**4.** ස. පු: කුශලාකුශල වූ සාවද්‍යානවද්‍ය වූ හීනප්‍රණීත වූ කෘෂ්ණශුක්ලසප්‍රතිභාග වූ ධර්මයෝ සම්මුඛීභාවයට එත් ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරනලද මැ නු: "මහණෙනි, මොහු සතර දෙන සුවිදූරවිදූර වෙති. කවර සතර දෙනෙක යත්: මහණෙනි, අහස ද පොළොව ද'යි මෙ දෙක පළමු වැනි සුවිදූරවිදූරය වෙයි ... එහෙයින් සත්පුරුෂයන්ගේ ධර්මය අසත්පුරුෂයන් කෙරෙන් දුරු වේ" යයි වදාළ සූත්‍රාන්තයෙක් ඇත්තේ මැ නො?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. ආ: එකරුණින් 'කුශලාකුශල වූ සාවද්‍යානවද්‍ය වූ හීනප්‍රණීත වූ කෘෂ්ණශුක්ලසප්‍රතිභාග වූ ධර්මයෝ සම්මුඛීභාවයට එති'යි නො කියැයුතු යැ.

**5.** ස. පු: පව්කම් සමාදන් වැ සිවුරු දෙන්නහුට, පිඩුවා දෙන්නහුට, සෙනසුන් දෙන්නහුට, ගිලන්පස බෙහෙසත්පිරිකර දෙන්නහුට, අභිවාදනාර්හයාහට අභිවාදන කරන්නහුට, හුනස්නෙන් නැඟෙනු නිසියාහට හුනස්නෙන් නැඟෙනුවහට, අඤ්ජලි-කර්මාර්හයාහට අඤ්ජලිකර්ම කරනුවහට, සාමීචි-කර්මාර්හයාහට සාමීචිකර්ම කරනුවහට, හිඳුනා අසුන් දෙනු නිසියාහට හිඳුනා අසුන් දෙනුවහට, මඟ දෙනු නිසියාහට මඟ දෙනුවහට පුණ්‍ය ද අපුණ්‍ය ද යන උභය ධර්මයෝ වැඩෙත් ද?

ප. පටි: එසේ නො කියැයුතු යැ ...

ස. අනු: පුණ්‍ය ද අපුණ්‍ය ද යන උභයධර්මයෝ වැඩෙත් ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: ස්පර්ශයන් දෙදෙනකුගේ ... චිත්තයන් දෙදෙන-කුගේ සමවධාන වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු යැ ...

**6.** ස. පු: ස්පර්ශයන් දෙදෙනකුගේ ... චිත්තයන් දෙදෙන කුගේ සමවධාන වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: කුශලාකුශල සාවද්‍යානවද්‍ය හීනප්‍රණීත කෘෂ්ණ-ශුක්ලසප්‍රතිභාගධර්මයෝ සම්මුඛීභාවයට එත් ද?

ප. පටි: එසේ නො කියැයුතු යැ ...

**7.** ස. පු: කුසලාකුසලා සාවජ්ජානවජ්ජා හීනප්පණීතා කණ්හසුක්කසප්පටිභාගා ධම්මා සම්මුඛීභාවං ආගච්ඡන්තී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: නනු වුත්තං භගවතා: ''චත්තාරි'මානි භික්ඛවෙ සුවිදූරවිදූරානි. කතමානි චත්තාරි: නභඤ්ච භික්ඛවෙ පඨවි ච, ඉදං පඨමං සුවිදූරවිදූරං -පෙ- තස්මා සතං ධම්මො අසබ්භි ආරකා''ති[a] අත්ථේ'ව සුත්තන්තො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. ආ: තෙන හි න වත්තබ්බං: කුසලාකුසලා සාවජ්ජානවජ්ජා හීනප්පණීතා කණ්හසුක්කසප්පටිභාගා ධම්මා සම්මුඛීභාවං ආගච්ඡන්තී''ති.

**8.** ප. පු: න වත්තබ්බං: අවිඤ්ඤත්ති දුස්සීල්‍යන්ති.

ස. පටිඤ්ඤා: ආමන්තා.

ප. අනු: නනු පාපකම්මං සමාදින්නො ආසී'ති

ස. පටිඤ්ඤා: ආමන්තා.

අනු. ඨ: හඤ්චි පාපකම්මං සමාදින්නො ආසි,

අනු. පා: තෙන වත රෙ වත්තබ්බෙ: අවිඤ්ඤත්ති දුස්සීල්‍යන්ති.

**අවිඤ්ඤත්ති දුස්සීල්‍යන්ති කථා නිට්ඨිතා.**

**දසමො වග්ගො නිට්ඨිතො.**

**තස්ස උද්දානං.**

නිරොධො රූපං මග්ගොපි පඤ්චවිඤ්ඤාණසම්බන්ධිනො
අත්ථි මග්ගභාවනා කුසලාපි අකුසලාපීති
සාහොගො දිට්ඨි සීලෙහි සීලං අචෙතසිකන්ති
න චිත්තානුපරිවත්ති සමාදානහෙතු වඩ්ඪති.
විඤ්ඤත්ති සීලං අවිඤ්ඤත්ති දුස්සීල්‍යන්ති භවන්ති දස.

**දුතියො පණ්ණාසකො.**

---

a චතුක්කඞ්ගුත්තර, රොහිතස්සවග්ග - 7 සුත්තං.

7. ස පු: කුශලාකුශල, සාවද්‍යානවද්‍ය, හීනප්‍රණීත, කෘෂ්ණ-ශුකල සප්‍රතිභාගධර්මයෝ සමමුඛීභාවයට එත් ද?

ප. පටික්ඛෙප: එසේ යැ.

ස. අනු: භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරන ලද මැ නු:

"මහණෙනි, මේ සුවිදූරවිදූරස්ථානයෝ සතර දෙනෙකි. කවර සතර දෙනෙක යත්: මහණෙනි, අහස හා පොළොව හා මෙ දෙක පළමු වන සුවිදූරවිදූරස්ථාන යි ... එබැවින් සත්පුරුෂයන්ගේ ධර්මය අසත්පුරුෂයන් කෙරෙන් දුරු වේය"යි වදාළ සූත්‍රාන්තයෙක් ඇත්තේ මැ නු?

ප. පටික්ඛෙප: එසේ යැ.

ස. ආ. එකරුණින් "කුශලාකුශල වූ සාවද්‍යානවද්‍ය වූ හීන-ප්‍රණීත වූ කෘෂ්ණශුකලසප්‍රතිභාග වූ ධර්මයෝ සමමුඛීභාවයට එති"යි නො කියැයුතු යැ.

8. ප. පු: 'අවිඥප්තිය දෞශ්ශිල්‍ය' යයි නො කියැයුතු වේ ද?

ස. පටික්ඛෙප: එසේ යැ.

ස. අනු: පාපකර්මය සමාදන්වූයේ නො වේ ද?

ස. පටික්ඛෙප: එසේ යැ.

අනු. ඨ: ඉදින් පාපකර්මය සමාදින්න වී නම්,

අනු. පා: හවත, එකරුණින් 'අවිඥප්තිය දෞශ්ශිල්‍ය වේය'යි කියැයුතු මැ යැ.

**අවිඤ්ඤප්තති දුස්සීල්‍යනති කථා නිමි.**

**දසවන වග නිමි.**

**එහි උද්දානය:**

නිරොධකථා යැ රූපාමගෙහානි කථා යැ පඤ්චවිඤ්ඤාණසමඞ්ගිස්ස මග්ගභාවනාකථා යැ පඤ්චවිඤ්ඤාණා කුසලාපි අකුසලාපීති කථා යැ සාභොගකථා යැ ද්විහි සීලෙහීති කථා යැ සීලං අචෙතසිකනතිකථා යැ සීලං න චිත්තානුපරිවත්තීති කථා යැ සමාදානහෙතු කථා යැ විඤ්ඤත්තිසීලනති කථා යැ අවිඤ්ඤත්ති දුස්සීල්‍යනති කථා යැ යි ඒ කථාවස්තුහු වෙති.

**දෙවන පණ්ණාසක යි.**

---

I

# ආහටසුත්තන්තානුක්කමණිකා

# II

# සඤ්ඤානාමානුක්කමණිකා

# III

## පදානුක්කමණිකා